

## මා ඕ සේතුං විසිනි

# ජපන් විරෝධී ජාතික එක්සත් පෙරමුණ සඳහා ලක්ෂ ගණනින් ජනතාව දිනා ගනිමු.

# ජපන් විරෝධී ජාතික එක්සත් පෙරමුණ සඳහා ලක්ෂ ගණනින් ජනතාව දිනා ගනිමු.

මාඕ සේ–තුං
විසිනි

කම්කරුවා ප්‍රකාශණයකි
1968

මෙය 1937 මැයිවලදී පවත්වන්නට යෙදුණු චීන කොමියුනිස්ට් පක්ෂයේ ජාතික සම්මේලන වාරය ඉදිරියේ සම්මේලනය අවසන් කරමින් මාඕ සේ-තුං සහෝදරයා විසින් කරන්නට යෙදුණු කථාවයි.

# ජපන් විරෝධී ජාතික එක්සත් පෙරමුණ සඳහා ලක්ෂ ගණනින් ජනතාව දිනා ගනිමු

**1937 මැයි 7**

සහෝදරවරුනි ! සාකච්ඡා පැවැත්වුණු පසුගිය දින කීපය තුළදී ඔබ ''ජපන් විරෝධී ප්‍රතිප්‍රහාරය කරන සමයේදී චීන කොමියුනිස්ට් පක්ෂය සතු කාර්ය භාරයන්'' නම් වූ මගේ වාර්තාවට එකඟතාවය පළ කළහ. ඊට වෙනස් මත පළ කළේ සහෝදරයන් ස්වල්ප දෙනකු පමණය. මගේ මේ අවසාන කථාවේදී වෙනත් ප්‍රශ්න ගැන සඳහන් කිරීමට මත්තෙන් ඒ විරුද්ධ මත කීපය ගැන සාකච්ඡා කරන්නෙමි. ඊට හේතුව ඒ මත තරමක් වැදගත් වීමය.

## සමාජය පිළිබඳ ප්‍රශ්නය

දැවුරුද්දකට ආසන්න කාලයක් මුලුල්ලේ අප පක්ෂය අභ්‍යන්තරික සාමය සඳහා සටන් කර ඇත්තේය. කුවෝමින්තානයේ මධ්‍යම විධායක සභාවේ තෙවැනි පූර්ණ රැස්වීම හමාර වීමෙන් පසු සාමය උදාවී ඇති බවත්, ''සාමය සඳහා සටන් කළ'' අවධිය හමාර බවත්, අළුත් කර්තව්‍යය වනුයේ ''සාමය තහවුරු කිරීම'' බවත් අපි ප්‍රකාශ කළෙමු. මේ අළුත් කර්තව්‍යය ''ප්‍රජාතන්ත්‍රය සඳහා සටන් කිරීම'' සමග එකට බැඳී පවත්නා බවද අපි පෙන්වා දුනිමු. එනම් ප්‍රජාතන්ත්‍රය සඳහා සටන් කිරීමෙන් සාමය තහවුරු කිරීමයි. කෙසේ වුවද අපේ මේ මතය පදනම් රහිත බව සමහර සහෝදරයන්ගේ තර්කය වේ. එයින් නිගමනය

කළ යුත්තේ ඔවුන් එක්කෝ ඊට පටහැනි මතය සහ එළඹිය යුතු බවය; නැත්නම් එම මත දෙක අතර වැනෙමින් සිටිය යුතු බවය. ඔවුන්ගේ තර්කය මෙය වේ: ''ජපානය පසුබසිමින් සිටී. (1) නැන්කානය වෙන කවරදටත් වඩා වැනෙන සුලු වී තිබේ. රටවල් දෙක අතර ප්‍රතිවිරෝධය දුර්වල වෙමින් තිබෙන අතර රට ඇතුලේ ප්‍රතිවිරෝධය තියුණු වෙමින් පවතී.'' ස්වභාවයෙන්ම මේ තක්සේරුව අනුව නම් අළුත් අවධියක් හෝ අළුත් කාර්යයක් නැත්තේය. තත්වය පැරණි අවධියට ආපසු පත් වී තිබේ. මේ මතය වැරදි යැයි මම කල්පනා කරමි.

සාමය උදාකර ගෙන තිබේ යැයි කීමෙන් අප අදහස් කරන්නේ එය තහවුරු වූ බවක් නොවේ. අනික් අතට අප අදහස් කරන්නේ එය තහවුරු නොවූ බවයි. සාමය උදාකර ගැනීමත්, එය තහවුරු කර ගැනීමත් වෙනස් කාරණා දෙකකි. ජපන් අධිරාජ්‍යවාදයේ දේශද්‍රෝහීන්ගේ සහ ජපානයට හිතවත් කණ්ඩායමේ පැවැත්ම නිසා ඉතිහාසයේ ගමන් මාර්ගය තාවකාලිකව ආපස්සට හැරෙන්නටත්, සාමය පසුබෑම්වලට මුහුණ පෑමටත් ඉඩ තිබේ. සත්‍යය නම් සියාන් සිද්ධියෙන් පසු සාමය අත්කර ගන්නා ලද බවත්, එය සාධක කීපයක ප්‍රතිඵලයක් බවත්ය. (ජපානයේ ආක්‍රමණකාරී මූලික ප්‍රතිපත්තිය, සෝවියට් දේශය හා බ්‍රිතාන්‍යය, එක්සත් ජනපදය හා ප්‍රංශය, චීනයේ අභ්‍යන්තරික සාමය කෙරෙහි දක්වන හිතකර ආකල්පය චීන ජනතාවගේ බලපෑම සියාන් සිද්ධිය සමයේදී කොමියුනිස්ට් පක්ෂය අනුගමනය කළ සාම පිළිවෙත ආණ්ඩු දෙක අතර සතුරු බව නැති කිරීමට කොමියුනිස්ට් පක්ෂය අනුගමනය කළ ප්‍රතිපත්තිය, ධනපති පංතිය තුළ වූ මතභේදය කුවෝමින්තානය තුළවූ මතභේදය ආදිය එම සාධකයන්ය) ''සාමය ඇති කිරීම හෝ නැති කිරීම චියැංකායිෂෙක්ට තනියෙන් කළ නොහැක්කකි. සාමය නැති කිරීමට නම් බොහෝ බලවේගවලට විරුද්ධව සටන් කිරීමටත් ජපන් අධිරාජ්‍යවාදීන්ට හා ජපනාට පක්ෂ කණ්ඩායමට වඩ වඩා කිට්ටු වීමටත්, ඔහුට සිදුවනු ඇත. චීනයේ සිවිල් යුද්ධය නව දිග්ගැස්සීමට ජපන් අධිරාජ්‍යවාදීන් හා ජපනාට හිතවත් කණ්ඩායම තවමත් උත්සාහ ගන්නා බවට කිසිදු සැකයක් නැත. සාමය තවම තහවුරු වී නැත්තේ ඔන්න ඔය කාරණය නිසාමය. තත්වය මෙසේ වන හෙයින් ''සිවිල් යුද්ධය අවසන් කරනු'' හා ''සාමය සඳහා සටන් කරනු'' යන පැරණි සටන් පාඨ නැවත ඉදිරිපත් කරනු වෙනුවට පියවරක් ඉදිරියට තබා ''ප්‍රජාතන්ත්‍රය සඳහා සටන් කරනු'' යන අළුත් සටන් පාඨය ඉදිරිපත් කළ යුතු බව අප විසින් නිගමනය කළ යුතුවේ. ඒ මන්දයත් අභ්‍යන්තරික සාමය තහවුරු කිරීමට හා ජපානයට විරුද්ධව ප්‍රතිප්‍රහාරක යුද්ධයක් පටන් ගැනීමට ඇති එකම මාර්ගය මෙය වේ. ''සාමය තහවුරු කරනු'' ''ප්‍රජාතන්ත්‍රය සඳහා සටන් කරනු'' සහ ''ආයුධ සන්නද්ධ ප්‍රතිප්‍රහාරයක යෙදෙනු'' යන එකිනෙකට කිට්ටුවෙන් සම්බන්ධ සටන් පාඨ තුන අප විසින් ඉදිරිපත් කරනු ලබන්නේ මන්ද? ඊට පිළිතුර නම් විප්ලවයේ රියසක ඉදිරියට තල්ලු කිරීමට අප පුල පුලා සිටින බවත්, පවත්නා තත්වයන් අනුව ඒ සඳහා අපට ඉඩ ලැබී ඇති බවත්ය. නව අවධියක් හා නව කාර්යභාරයක් නැතැයි කියන්නෝද කුවෝමින්තානය ''වෙනස් වීමට පටන් ගෙන'' නැතැයි කියන්නෝද ඒ තර්කයට අනුවම යමින් ඉකුත් අවුරුදු එකහමාර තුළ සාමය සඳහා සටන් කළ සියලු බලවේග අත්කා

ගත් ජයග්‍රහණයන් නැතැයි කියන්නෝද කලින් සිටි තැනම රැඳී සිටිනු මිස අඟලක්වත් ඉදිරියට යැමට අපොහොසත් වන්නාහ.

මේ සහෝදරයන් මෙබඳු පදනම් රහිත තක්සේරුවක් කරන්නේ මන්ද ? ඊට හේතුව වත්මන් තත්වය කරා මැන බැලීමේදී ඔවුන් එම කාර්ය පටන් ගන්නේ සීමා සහිත හා තාවකාලික කරුණු කීපයකින් මිස මූලික කරුණු වලින් නොවීමයි. (සාටෝර්ගේ රාජ්‍ය තන්ත්‍රය සුවච්ගේ නඩු විභාගය (2) වැඩ වර්ජන මැඩලීම ඊසාන දිග හමුදාව නැගෙනහිරට මාරු කර යැවීම (3) යැංහු වෙන් සෙන්පතියාගේ විදෙස් සංචාරය (4) ආදිය ඒ තාවකාලික කරුණුය.) ඔවුන් තත්වය ගැන අශුභදායක විස්තරයක් කරන්නේ ඒ නිසාය. කුවෝමින්තානය වෙනස් වීමට පටන් ගෙන ඇතැයි අප කියා සිටිමු. එය සහමුලින් වෙනස් වී නැතැයිද ඒ එක්කම අපි කියා සිටිමු. අප සහ ජනතාව අළුත් මහන්සියක් ගන්නේ නැතිව-වඩා දැඩි මහන්සියක් ගන්නේ නැතිව ඉකුත් - අවුරුදු දහය තුළ කුවෝමින්තානය අනුගමනය කළ ප්‍රතිගාමී ප්‍රතිපත්තිය සහමුලින් වෙනස් කළ හැකි වේයැයි සිතීම පවා උගහටය. කුවෝමින්තානය බොහෝ විට දරුණු ලෙස හෙලා දකින්නාවූද සියාන් සිද්ධිය සමයේදී චියැං මරා දැමිය යුතු යැයි යෝජනා කළා වූද ''තුන්කුවාන් ඔස්සේ සටන් කොට අපේ මාර්ගය පාදගන්නෙමු'' යි[5] කියා සිටියාවූද ''වාමාං-ශික'' පුද්ගලයන් වශයෙන් නමගිය සෑහෙන පිරිසක් දැන් සාමය උදාවූ ක්ෂණයෙන් සුවච් නඩු විභාගය වැනි සිද්ධීන් ඇතිවීම ගැන විශ්මයට පත්වී ''චියැංකායිෂෙක් නවමත් මෙබඳු දේ කරන්නේ මන්ද''යි ප්‍රශ්න කරති. කොමියුනිස්ට්වාදීන් හෝ චියැංකායිෂෙක් හෝ දෙවි වරුන් නොවන බවත්, ඔවුන් පක්ෂයක හෝ පංතියක සාමාජිකයන් මිස තනි වූ පුද්ගලයන් නොවන බවත් ඔවුන්, ඒ පුද්ගලයන් වටහා ගත යුතුය. කොමියුනිස්ට් පක්ෂයට විප්ලවය පියවරින් පියවර ඉදිරියට තල්ලු කළ හැකි මුත් රැ එළිවන්නට මත්තෙන් රටේ ඇති සියලු නරක දේවල් අතුගා දැමිය නොහැක්කේය. චියැංකායි-ෂෙක් හා කුවෝමින්තානය වෙනස් වීමට පටන් ගෙන තිබේ. එහෙත් මුලු මහත් ජනතාව ඉමහත් ප්‍රයත්නයක යෙදෙන්නේ නැතිව අවුරුදු දහයක් මුලුල්ලේ එක්රැස්වූ කුණු කන්දල් සීඝ්‍රයෙන් ඉවත් කර දැමීම අපහසු බව සහතිකය. දැන් පවත්නා තත්වය සාමය ප්‍රජාතන්ත්‍රය හා ප්‍රතිප්‍රහාරය දෙසට නැඹුරු වූවක් බව අපි විශ්වාස කරමු. එහෙත් සිවිල් යුද්ධය ආඥාදායකත්වය හා ප්‍රති ප්‍රහාරයෙහි නොයෙදීම ආදී පැරණි වැරදි සියල්ල කිසිම මහන්සියක් නොමැතිව අකා මකා දැමිය හැකි බවත් එයින් අදහස් නොකෙරේ. පැරණි කුණු කන්දල් අතු ගා දැමිය හැකි වන්නේත් විප්ලවයට අත්වන පසුබෑම් හා පරාජයන් වළකාලිය හැක්කේත් දිගු කලක් මුලුල්ලේ කරන්නාවූ අරගලයකින් හා වෙහෙස මහන්සිව කරන වැඩ කටයුතුවලින් පමණි. ''උන් අප විනාශ කර දමන් නටම හදනවා'' හරි ඇත්ත උන් නිතරම හදන්නේ අප විනාශ කරන්නටම තමයි. මේ තක්සේරුවේ ඇති නිරවද්‍යතාවය මම සහමුලින් පිළිගනිමි. මේ කරුණ කෙනෙකුට නොපෙනේ නම් ඔහු මර නින්දේ පසුවන්-නකු විය යුතුය. එහෙත් ප්‍රශ්නය මෙයයි. ඔවුන් අප විනාශ කරන්නට තැත් කළ ආකාරයෙන් කිසිදු වෙනසක් සිදුවී තිබේද ? වෙනසක් සිදුවී ඇතැයි මම කල්පනා කරමි. ඒ වෙනස නම් යුද්ධය හා ඝාතනය ප්‍රතිසංස්කරණයට හා ප්‍රෝඩාවට පරිවර්තනය වී තිබීමයි. හැඩි දැඩි ප්‍රති පත්තියක් මෘදු මොලොක් ප්‍රතිපත්තියකට පරිවර්තනය

වී තිබීමයි. යුද්ධමය ප්‍රතිපත්තියක් දේශපාලන ප්‍රතිපත්තියකට පරිවර්තනය වී තිබීමයි. එබඳු වෙනසක් සිදුවී ඇත්තේ මන්ද ? ජපන් අධිරාජ්‍යවාදයට මුහුණ දීමට සිදුවී තිබීමේ හේතුවෙන් නිර්ධන පංතිය තමන්ගේ සගයකු කර ගැනීමට ධනපති පංතියට හා කුවෝමින්තානයට තාවකාලිකව බල කෙරී තිබේ. එය හරියටම අප ධනපති පංතිය සහාය කර ගැනීමට උත්සාහ ගැනීම හා සමානය. ප්‍රශ්නය සලකා බැලීමේදී අපේ මග වෙනස් කිරීමට තුඩු දෙන කරුණු ලෙසින් මෙය සැලකිය යුතුය. ජාත්‍යන්තර වශයෙන් එවැනිම හේතු උඩ ප්‍රංශ ආණ්ඩුව, සෝවියට් දේශය කෙරෙහි දක්වූ සතුරු බව වෙනස් කොට මිතුරු බවක් දක්වීමට පටන් ගෙන තිබේ.[6] අපේ දේශීය කාර්මික කර්තව්‍යය යුද්ධමය එකකින් දේශපාලන එකකට පරිවර්තනය වී තිබේ. කුමන්ත්‍රණ කිරීමෙන් හෝ කුටෝපායයන්ගෙන් අපට නම් වැඩෙක් නැත. අපේ පරමාර්ථය වී ඇත්තේ ප්‍රතිප්‍රහාරයට පක්ෂපාත ධනපති පංතියේ හා කුවෝමින්තානයේ සියලු සාමාජිකයන් සමග එක්වී ජපන් අධිරාජ්‍යවාදය පරාජය කරනු සඳහා පොදු ප්‍රයත්නයක යෙදීමයි.

## ප්‍රජාතන්ත්‍රය පිළිබඳ ප්‍රශ්නය

''ප්‍රජාතන්ත්‍රයට මුල් තැනදීම වැරදිය. මුල්තැන දිය යුත්තේ හුදෙක් ජපානයට විරුද්ධව කරන ප්‍රතිප්‍රහාරය ටය. ජපානයට විරුද්ධව කෙලින්ම සටන් කරන්නේ නැතිව ප්‍රජාතන්ත්‍රය සඳහා ව්‍යාපාරයක් ගෙන යා නොහැක. බහු ජනතාවට උවමනා කර තිබෙන්නේ ජපානයට විරුද්ධව ප්‍රතිප්‍රහාරයෙහි යෙදීම පමණක් මිස ප්‍රජාතන්ත්‍රයක් නොවේ. අවශ්‍ය කරනුයේ නවත් දෙසැම්බර් 9 ද ව්‍යාපාරයකි.''[7]



පළමුව ප්‍රශ්න කීපයක් මතු කිරීමට මා කැමතිය. පූර්ව අවධියේදී (එනම් 1935 දෙසැම්බර් 9 ද ව්‍යාපාරයේ පටන් 1937 පෙබරවාරි පැවති කුවෝමින්තානයේ මධ්‍යම විධායක සභාවේ තෙවැනි පූර්ව රැස්වීම දක්වා) බහුජනතාවට උවමනා කර තිබුනේ හුදෙක් ජපානයට ප්‍රතිප්‍රහාරය දීම මිස අභ්‍යන්තරික සාමය නොවේ යැයි කිවහැකිද? එවකට අභ්‍යන්තරික සාමයෙහි අගය ගැන තරයේ කියා සිටීම වැරැද්දක් විද ? ජපානයට විරුද්ධව කෙලින්ම සටන් කරන්නේ නැතිව අභ්‍යන්තරික සාමය සඳහා ව්‍යාපාරයක් ඇති කළ නොහැකිද ? (සියාන් සිද්ධිය හා කුවෝමින්තානයේ මධ්‍යම විධායක සභාවේ තෙවැනි පූර්ණ රැස්වීම සිදුවූයේ සුයියුවාන් හි ප්‍රතිප්‍රහාරය අවසාන වූවාට පසුය. එහෙත් අද පවා සුයියුවාන් ප්‍රතිප්‍රහාරයට හෝ දෙසැම්බර් 9 ද ව්‍යාපාරයට හෝ සමකළ හැකි කිසිවක් නොමැත.) ජපානයට විරුද්ධව ප්‍රතිප්‍රහාරය දීමට නම් අභ්‍යන්තරික සාමය තිබිය යුතු බව කවුරුත් දත්හ. අභ්‍යන්තරික සාමය නොමැතිව ජපන් විරෝධී ප්‍රතිප්‍රහාරයක් නොතිබිය හැකි බවත්. අභ්‍යන්තරික සාමය ප්‍රතිප්‍රහාරය සඳහා අවශ්‍ය තත්වයක් බවත් සියල්ලෝ දත්හ. පූර්ව අවධියේදී කෙරුනු (දෙසැම්බර් 9 ද ව්‍යාපාරයෙන් පටන් ගෙන කුවෝමින්තානයේ මධ්‍යම විධායක සභාවේ තෙවැනි පූර්ණ රැස්වීමෙන් අවසන් වූ) වක් හා නොවක් සියලු ජපන් විරෝධී වැඩ කටයුතු එවකට ජපන් විරෝධී ව්‍යාපාරයේ ප්‍රධාන කාරණය හා අත්‍යවශ්‍ය කාරණය වූ අභ්‍යන්තරික සාමය සඳහා කරන අරගලය මුල් කර ගෙන කෙරුනු කටයුතු විය.

ඒ වගේම අද මේ නව අවධියේ ජපන් විරෝධී ප්‍රතිප්‍රහාරය සඳහා අත්‍යවශ්‍ය දෙය වී ඇත්තේ ප්‍රජාතන්ත්‍රයයි. ප්‍රජාතන්ත්‍රය සඳහා වෙහෙසීම ජපන් විරෝධී ප්‍රතිප්‍රහාරය

සඳහා වෙහෙසීමක් වන්නේය. ප්‍රතිප්‍රහාරයට ඇති සහතිකය ප්‍රජාතන්ත්‍රයයි. ප්‍රජාතන්ත්‍රය සඳහා කෙරෙන ව්‍යාපාරයේ වර්ධනයට හිතකර තත්වයන් ප්‍රතිප්‍රහාරය විසින් සම්පාදනය කළ හැකි වන්නේය. අළුත් අවධියේදී ජපානයට විරුද්ධව බොහෝවක් හා නොවක් අරගල ඇතිවේයැයි අපි බලාපොරොත්තු වෙමු. ඒවා ඇත්ත වශයෙන්ම ඇති වනු ඇත. එම අරගල වලින් ප්‍රතිප්‍රහාරක යුද්ධයට තල්ලුවක් ලැබෙන අතර ඒවා ප්‍රජාතන්ත්‍රය සඳහා ගෙන යන ව්‍යාපාරයට මහත් රුකුලක් වනු ඇත. එහෙත් ඉතිහාසය විසින් අපට පවරා ඇති විප්ලවීය කාර්යභාරයේ හරය හා අරටුව වනුයේ ප්‍රජාතන්ත්‍රය දිනා ගැනීමයි. එනිසා ප්‍රජාතන්ත්‍රය ගැන වැඩි බර යෙදීම වැරදි සහගත ද ? වැරදි සහගත යැයි මා කල්පනා කරන්නේ නැත.

''ජපානයේ ආ පස්සට යමින් සිටි බ්‍රිතාන්‍යය හා ජපානය දෙපැත්තටම නැතිව සිටීමට උත්සාහයක් දරත්. නැන්කිනය වඩ වඩා වැනෙන සුළු වී තිබේ.'' මෙබඳු අනවශ්‍ය බලාපොරොත්තුවකට තුඩු දී ඇත්තේ ඓතිහාසික වර්ධනයේ රීති පිළිබඳව ඇති නොදැනුවත්කමයි. ජපානයෙහි විප්ලවයක් සිදුවී, ඇය ඇත්ත වශයෙන්ම චීනයෙන් ඉවත් වුවහොත් එය චීන විප්ලවයට රුකුලක් වන්නේය. අපට උවමනා කරන දෙය එයම වන අතර එය ආක්‍රමණකාරී ජගත් පෙරමුණ බිඳවැටීමේ ආරම්භය වනු ඇත. ඉදින් එබඳු අපේක්ෂාවකට කවර ඉඩක් තිබේද? ඇත්ත වශයෙන්ම සිදුවෙමින් පවත්නේ මේ දෙය නොවේ. යාටෝගේ රාජ්‍ය තන්ත්‍රික පියවරයන් විශාල යුද්ධයකට සූදනම් වීමක් වන අතර අපට විශාල යුද්ධයක තර්ජනය එල්ල වී තිබේ. බ්‍රිතාන්‍යයේ වැනෙන සුළු පිළිවෙතින් ඇයට අත්වන ලාභයක් නැත. බ්‍රිතාන්‍යයේ සහ ජපාන



යේ උවමනා එපාකම් සට්ටනය වන බැවින් මේ සහතික වේ. නැන්කිනය දිගුකලක් වැනෙමින්, සිටියහොත් එය මුළු ජාතියේ සතුරා වන්නේය. එනිසා එය තමන්ගේම යහපත සඳහා ඊට වැනෙන සුළුව සිටීමට නොහැකි වන්නේය. තාවකාලික පසුබෑමක් නිසා ඉතිහාසයේ පොදු රීතිය වෙනස්විය නොහැක. එනිසා නව අවධියේ පැවැත්ම හෙවත් ප්‍රජාතන්ත්‍රය දිනීමේ කාර්යය අරමුණු කර ගැනීම කිසිවක් විසින් ප්‍රතික්ෂේප කළ යුතු නොවේ. මොනවා උනත් චීන ජනතාවට ප්‍රජාතන්ත්‍රය ඉතා අල්ප වශයෙන් ඉතා බහුල වශයෙන් නොමැති බව කාටත් පැහැදිළි කරුණක් වන හෙයින් ප්‍රජාතන්ත්‍රය පිළිබඳ සටන් පාඨය උචිත වේ. නව අවධිය මේ යයි නිශ්චය කිරීමේ හා ප්‍රජාතන්ත්‍රය දිනීම අරමුණු කර ගැනීමේ ප්‍රතිප්‍රහාරයට නව පියවරකින් කිට්ටුවන බව සත්‍ය සිද්ධීන්ගෙන් පෙනී යයි. සිද්ධීන් ඉදිරියට ගමන් කර ඇති අතර හෝරා යන්ත්‍රයේ කටු ආපස්සට කරකැවීම අප විසින් කළ යුතු නොවේ.

''ජාතික මන්ත්‍රී මණ්ඩලයේ වැදගත්කම ගැන අප මෙතරම් තරයේ කියා සිටින්නේ ඇයිද?'' එසේ කරනුයේ එය ජීවිතයේ සෑම අංශයක් කෙරෙහි බලපෑ හැකි දෙයක් වන හෙයිනි. එය ජාතික ආරක්ෂාව හා සම්බන්ධ දෙයක් හෙයිනි. ඒ වගේම එය නීත්‍යානුකූල ආයතනයක් වන හෙයිනි. බොහෝ සහෝදරයන් යෝජනා කළ පරිදි නැගෙනහිර හෝපේයි සහ උතුරු වහාර් පෙදෙස ආපසු අල්ලා ගැනීම, රටට බඩු හොරෙන් ගෙන ඒම[8], වැළැක් වීම, ආර්ථික සහයෝගයට විරුද්ධවීම[9] ආදිය කළ යුතු නිවැරදි දේවල්ය. මේවා ප්‍රජාතන්ත්‍රය සඳහාත්, ජාතික මන්ත්‍රී මණ්ඩලය සඳහාත්, කරන සටනේම කොටසක්

මිස ඊට පටහැනි වූවක් නොවේ. නවම අත්‍යවශ්‍ය දෙය වී ඇත්තේ ජාතික මන්ත්‍රී මණ්ඩලය හා ජනතා නිදහසයි. ජපානයට විරුද්ධව ගෙන යන දෛනික අරගලයත් වඩා හොඳ ජීවිතයක් සඳහා ගෙන යන ජනතා අරගලයත් ප්‍රජාතන්ත්‍රය සඳහා ගෙන යන ව්‍යාපාරය සමග ඒකාබද්ධ කිරීම නිවැරදිය විවාද රහිතය. කෙසේ වුවද වර්තමාන අවධියේ ප්‍රධානම අවශ්‍යතම දෙය ප්‍රජාතන්ත්‍රය හා නිදහසයි.

## විප්ලවයේ අනාගතය පිළිබඳ ප්‍රශ්නය

ඇතැම් සහෝදරයන් මෙ ප්‍රශ්නය නගා ඇති අතර මට මෙහිදී දිය හැක්කේ කෙටි පිළිතුරක් පමණි. රචනයක් ලිවීමේදී එහි පසු භාගය හමාර වූවාට පසුව පමණි. සමාජවාදයේ ජයග්‍රහණයෙහි පූර්ව අවශ්‍යතාවයක් වනුයේ ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවයට ස්ථිරසාර නායකත්වයක් දීමයි. අප සමාජවාදය සඳහා සටන් කරන අතර මේ අතින් අප විප්ලවවාදී ත්‍රිවිධ ජනතා පිළිවෙතට සීමා වී සිටින පුන්ට වඩා වෙනස්ය. ඒ වූකලී අපගේ වර්තමාන ප්‍රයත්නයන්හි ඵල්ලය වන ශ්‍රේෂ්ඨ අනාගත අරමුණයි. අරමුණ සිහිකටා නොගෙන ක්‍රියා කරනහොත් අපි තව දුරටත් කොමියුනිස්ට්වාදීන් නොවෙමු. ඒ වගේම අද අප ගන්නා උත්සාහය අඩු කළහොත් එලෙසින්ම අපි තව දුරටත් කොමියුනිස්ට්වාදීන් නොවෙමු.

අපි විප්ලවය පරවර්තනය වීමේ[10] න්‍යාය ඉදිරිපත් කරන්නෝ වෙමු. ඒවගේම අපි ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය සමාජවාදය දෙසට පරිවර්තනය කිරීමට පක්ෂපාත වෙමු. ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය අවධි කීපයක ඔස්සේ දියුණුවන අතර ඒ සෑම අවධියක්ම පසුවනු ඇත්තේ ප්‍රජාතන්ත්‍රවාදී



සමූහාණ්ඩුව සටන් පාඨය යටතේය. ධනපති පංතියේ ආධිපත්‍යය නිර්ධන පංතියේ ආධිපත්‍යය බවට පරිවර්තනය වීම දීර්ඝ ක්‍රියාදමයකින් යුත් අරගලයකි. එහි නායකත්වය සඳහා කරන අරගලයේ සාර්ථකත්වය රඳා පවත්නේ නිර්ධන පංතියේ ගොවි ජනතාවගේ හා නාගරික සුළු ධනපති පංතියේ විඥාණයේ හා සංවිධාන ශක්තියේ මට්ටම ඉහල නැංවීමට කොමියුනිස්ට් පක්ෂය කරන වැඩ කටයුතු මතය.

නිර්ධන පංතියේ භක්තිමත් මිත්‍රයා ගොවි ජනතාව වන අතර ඊළඟ භක්තිමත් මිත්‍රයා වන්නේ නාගරික සුළු ධනපති පංතියයි. නායකත්වය සඳහා අප සමග තරඟයක යෙදෙනු ඇත්තේ ධනපති පංතියයි. ධනපති පංතියේ චපල භාවය සහ එහි විප්ලවවාදී දුබලතාවය මැඩලනු සඳහා අප පිහිට කරගත යුත්තේ පොදු ජනතාවගේ ශක්තිය හා අප ප්‍රතිපත්තියේ නිවැරදි බවයි. නොඑසේ නම් ධනපති පංතිය අපට ඉහළින් ඉස්මතු වනු ඇත.

අප කැමති වනුයේ ලේ වැගිරීමකින් තොරව සිදුවන පරිවර්තනයකටය. අප උත්සාහ ගත යුත්තේද එය ඉටු කර ගැනීමටය. එහෙත් කුමකින් කුමක් සිදුවේද යන්න රඳා පවත්නේ ජනතාවගේ ශක්තිය මතය.

අපි විප්ලවයේ පරිවර්තනය පිළිබඳ න්‍යාය ඉදිරිපත් කරනවුන් වෙතත් ''නොනවතින විප්ලවය''[11] පිළිබඳ ට්‍රොට්ස්කිවාදී න්‍යාය ඉදිරිපත් කරන්නෝ නොවෙමු. අප කියා සිටිනුයේ සමාජවාදය උදකර ගත යුත්තේ ප්‍රජා-තන්ත්‍රවාදී සමූහාණ්ඩුවේ සියළු අවශ්‍ය අවධීන් ඔස්සේ යමින් බවයි. අපි වල්ගාවාදයට විරුද්ධ වන්නාසේම නොසැළකිලිමත් ලෙස ඉදිරියට කඩාගෙන යෑමටත් ඉවක් බවක් නැති ක්‍රියාවලටත් විරුද්ධ වෙමු. විප්ලවයට

ධනපති පංතිය සහභාගිවීම තාවකාලික දෙයක් වනහෙයින් එය ප්‍රතික්ෂේප කිරීමත්, (අර්ධ යටත් විජිත රටක ධනපති පංතියේ ජපන් විරෝධී කොටස් සමග ඇතිකරගන්නා සම්මුතිය යටත්වීමක් ලෙසින් හැඳින්වීමත් ට්‍රොට්ස්කිවාදී තර්කයක් වන අතර ඒ සමග අපට එකඟවිය නොහැක. මේ අවස්ථාවේ එබඳු සම්මුතියක් ඇත්ත වශයෙන් සමාජවාදය කරා යන මාර්ගයෙහි ඇති අවශ්‍යතම ප්‍රදණ්ඩක් වැනිය.

## කාඩර්වරුන් පිළිබඳ ප්‍රශ්නය

ශ්‍රේෂ්ඨ විප්ලවයක් සඳහා ශ්‍රේෂ්ඨ පක්ෂයක් හා ඊට මග පෙන්වන්නාවූ නොම්මර එකේ කාඩර්වරු බොහෝ දෙනකු අවශ්‍යය. කෝටි හතලිස්පහක ජනගහනයක් වෙසෙන චීනයෙහි ඉතිහාසයෙහි පෙර නොවූ විරූ ආකාරයේ විප්ලවයක් වන අපගේ ශ්‍රේෂ්ඨ විප්ලවය සාර්ථක කරගැනීමට නම් නායකත්වය සුළු හා පටු කණ්ඩායමක් අතෙහි තිබීම හෝ පක්ෂ නායකයන් හා කාඩර්වරුන් ලාමක අදහස් ඇති අදූරදර්ශී අකාර්යක්ෂම පුද්ගලයන්වීම වැලකිය යුතුය. චීන කොමියුනිස්ට් පක්ෂය දිගු කලක් විශාල පක්ෂයක්ව තිබුණු අතර ප්‍රතිගාමී වකවානුවේදී හානි සිදුවූ මුත් තවම එය විශාල පක්ෂයකි. එහි බොහෝ හොඳ නායකයන් හා කාඩර්වරුන් ඇතත් තවම අවශ්‍ය තරම් නොමැත. අපගේ පක්ෂ සංවිධාන ව්‍යාප්ත කළයුතු අතර දස දහස් ගණන් කාඩර්වරුන් හා නොම්මර එකේ නායකයන් සිය ගණන් වැඩ දියක අන්දමින් පුහුණු කළ යුතුය. ඔවුන් මාක්ස්--ලෙනින්වාදය ප්‍රගුණ කළාවූද දේශපාලන දුර දැක්මෙන් යුක්තවූද, කාර්යක්ෂමවූද, ආත්ම පරිත්‍යාගශීලිත්වයෙන් ඉතිරී ගියාවූද ස්වශක්තියෙන්ම ප්‍රශ්න විසඳීමේ හැකියාව ඇත්තාවූද, කරදර කම්කටොළු මධ්‍යයේ අචලව සිටින්නාවූද, ජාතියට පංතියට හා පක්ෂයට භක්තිමත්ව හා ලෙන්ගතුව සේවය කරන්නාවූද කාඩර්වරුන් හා නායකයන් විය යුතුය. පක්ෂ සාමාජිකයන් හා ජනතාව සමග සබඳකම් ගොඩ නැගීම අතින් පක්ෂය විශ්වාසය රඳවා ඇත්තේ මේ කාඩර්වරුන් හා නායකයන් මතය. පක්ෂය සතුරා පරාජය කිරීමට සමත් වනුයේ ඔවුන් ජනතාවට සපයන්නාවූ ස්ථිර නායකත්වය කෙරෙහි විශ්වාසය තැබීමෙනි. එබඳු කාඩර්වරුන් හා නායකයන් ආත්මාර්ථයෙන් තොර විය යුතුය. පුද්ගලවාදී වීරත්වයෙන් තොරවිය යුතුය. බොරු ආටෝපයෙන් උදාසීන භාවයෙන් අකර්මණ්‍ය භාවයෙන් නිකායවාදී අහංකාරයෙන් තොරවිය යුතුය. ඔවුන් ස්වාර්ථයෙන් තොරවූ ජාතික හා පන්තිමය වීරයන් විය යුතුය. අප පක්ෂයේ සාමාජිකයන්ගෙන් කාඩර්වරුන්ගෙන් හා නායකයන්ගෙන් බලාපොරොත්තුවන ගතිගුණ හා වැඩ ශෛලිය මෙබඳුය. ව්‍යාපාරය වෙනුවෙන් ස්වකීය ජීවිත පූජාකළාවූ දස දහස් ගණන් පක්ෂ සාමාජිකයන්, දස දහස් ගණන් කාඩර්වරුන් විසින්, සිය ගණන් හොඳම ගණයේ නායකයන් විසින් අපට උරුමකර ගියාවූ ආධ්‍යාත්මික දායාදය මෙබඳුය. නිසැක වශයෙන්ම අපි මේ ගුණයන් උකහාගත යුත්තෙමු, අපි වඩා හොඳින් හැඩ ගැසිය යුත්තෙමු. වඩා උසස් විප්ලවවාදී මට්ටමකට නැගිය යුත්තෙමු. මෙපමණක් ප්‍රමාණවත් නොවේ. පක්ෂයෙන් හා රටෙන් නව බොහෝ අළුත් කාඩර්වරුන් හා නායකයන් සොයා ගැනීම අපගේ යුතුකමක් ලෙසින් සැලකිය යුතුවේ. අපේ විප්ලවය රඳාපවත්නේ කාඩර්වරුන් මතය. ස්ටලින් පැවසූ පරිදි ''සියල්ල තීරණය කරන ලබන්නේ කාඩර්වරුන් විසිනි''.[12]

## පක්ෂාභ්‍යන්තරීය ප්‍රජාතන්ත්‍රය පිළිබඳ ප්‍රශ්නය

මේ අරමුණ ඉටුකරගනු සඳහා පක්ෂාභ්‍යන්තරීය ප්‍රජාතන්ත්‍රය අත්‍යවශ්‍ය වේ. පක්ෂය ශක්තිමත් කිරීමට නම් අපි සමස්ත සමාජික සංඛ්‍යාවේ පුරෝගාමීත්වය පණ ගන්වනු සඳහා ප්‍රජාතන්ත්‍රවාදී මධ්‍යගත පාලනය

ක්‍රියාත්මක කළ යුත්තෙමු. ප්‍රතිගාමීත්වය හා සිවිල් යුද්ධය පැවතුන වකවානුවෙහි මීට වඩා මධ්‍යගත පාලන යක් තිබුණේය. අළුත් වකවානුවේදී මධ්‍යගත පාලනය ප්‍රජාතන්ත්‍රය සමග කිට්ටුවෙන් සම්බන්ධ කළ යුතුය. අපි ප්‍රජාතන්ත්‍රය ක්‍රියාත්මක කොට පක්ෂය පුරා පුරෝගාමීභාවයට ඉඩදිය යුත්තෙමු. පක්ෂයේ සියළු සාමාජික යන්ගේ පුරෝගාමීභාවය ක්‍රියාත්මක කිරීමට ඉඩකඩ සලසා අළුත් කාඩර්වරුන් විශාල සංඛ්‍යාවක් පුහුණුකොට නිකායවාදී නටබුන් අහෝසිකර දමා මුළු පක්ෂය අයෝමය සමගියකින් එක්සත් කළ යුතුය.

## සම්මේලනය තුළ හා මුළු පක්ෂය තුළ සමගිය

දේශපාලන ප්‍රශ්ණ උඩ මේ සම්මේලනයෙහිදී මතුවූ විරුද්ධවාදී මත දරූ පුද්ගලයන් කරුණු පැහැදිලිකර දීමෙන් පසු ඒකඟතාවයකට එළඹ තිබේ. මධ්‍යම කාරක සභාවේ මතය හා ඇතැම් සහෝදරයන්ගේ නායකත්වය යටතේ ඉදිරිපත්වූ පශ්චාත්ගාමී ක්‍රියා පිළිවෙත අතර මුලින් තිබුණු ගැටුමද සමතයකට පත්විය.[13] අප පක්ෂය දැඩි සමගියකින් වෙලී ඇතිබව මෙයින් පෙනේ. වර්තමාන ජාතික හා ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය සඳහා මේ සමගිය අතිශය වැදගත් පදනමක් වනු ඇත. ඒ මන්ද කිවහොත් සමස්ත පංතියේ හා සමස්ත ජාතියේ සමගිය උදුකරගත හැක්කේ කොමියුනිස්ට් පක්ෂය තුළින් පමණි. ඒවගේම සතුරා පරාජය කොට ජාතික හා ප්‍රජාතන්ත්‍රවාදී විප්ලවය සාර්ථක කරගත හැක්කේ මුළු පංතියේ හා මුළු ජාතියේ සමගිය තුළින් පමණි.

## ජපන් විරෝධි ජාතික එක්සත් පෙරමුණට ජනතාව ලක්ෂ ගණනින් දිනාගනිමු.

අපේ නිවැරදි දේශපාලන පිළිවෙතේ සහ අපේ දැඩි සමගියේ අරමුණ වනුයේ ජපන් විරෝධී ජාතික එක්සත් පෙරමුණ තුළට ජනතාව ලක්ෂ ගණනින් දිනා ගැනීමයි. නිර්ධන පංතියට, ගොවි ජනතාවට හා නාගරික සුළු



ධනපති පංතියට අයත් පුළුල් පොදු ජනතාවට අපගේ ප්‍රචාරක කටයුතු, උද්ඝෝෂණ කටයුතු හා සංවිධාන කටයුතු වලින් ප්‍රයෝජන සලසා දියයුතුව තිබේ. තවද ජපානයට විරුද්ධ ධනපති පංතියේ කොටස් සමග සම්මුතියක් ඇතිකර ගැනීමට අප විසින් තව තවත් මහන්සි ගතයුතුය. පක්ෂයේ ප්‍රතිපත්තිය ජනතාවගේ ප්‍රතිපත්තිය බවට පත් කරනු සඳහා මහන්සියක් ගතයුතු වේ. ඒ සඳහා දීර්ඝවූද, ස්ථිරසාර වූද, නොපසුබටවූද, වෙහෙස සහගත වූද, ඉවසීමෙන් යුක්තවූද, දුෂ්කරවූද මහන්සියක් ගත යුතුවේ. මෙබඳු ප්‍රයත්නයක නොයෙදී අපට කිසිවක් කර ගත හැකි නොවන්නේය. ජපන් විරෝධී ජාතික එක්සත් පෙරමුණ පිහිටුවීම හා තහවුරු කිරීමත් එම පෙරමුණ සතු වගකීම් භාරය සාර්ථක ලෙස ඉටුකිරීමත් චීනයෙහි ප්‍රජාතන්ත්‍රවාදී සමූහාණ්ඩුවක් පිහිටුවීමත් යන කරුණු ජනතාව දිනා ගැනීමට අප ගන්නා ප්‍රයත්නය සමග වෙන්කළ නොහැකි අයුරින් වෙලී පැටලී පවතී. එබඳු ප්‍රයත්නයක් මගින් ලක්ෂ කෝටි සංඛ්‍යාත ජනතාවක් අපගේ නායකත්වය යටතට ගැනීමට අපි සමත් වෙමු නම් අපගේ විප්ලවවාදී කාර්ය භාරය ඉක්මනින් ඉටුකළ හැකි වන්නේය. අප දරන්නාවූ වෙහෙසේ ප්‍රතිඵලයක් වශයෙන් අපි නියත වශයෙන්ම ජපන් අධිරාජ්‍යවාදය පෙරළා දමා අංග සම්පූර්ණ ජාතික හා සමාජයීය විමුක්තිය උදුකර ගන්නෙමු.

## සටහන්.

1. සියාන් සිද්ධියෙන් පසු අධිරාජ්‍යවාදියෝ තාවකාලික මිත්‍රකමක් දක්වන්නට වූහ. මෙසේ කරන ලද්දේ ගොඩ නැගෙමින්ආ අභ්‍යන්තරික සාමය සහ ජපන් විරෝධී ජාතික එක්සත් පෙරමුණ කඩාකප්පල් කරනු සඳහා කුඹමින්තාන බලධරයන් පොළඹවා ගැනීමටය. ඔවුහු තම පාලනය යටතේ පැවති ඇතුළු මොන්ගෝලියාවේ ව්‍යාජ ස්වතන්ත්‍ර ආණ්ඩුව ලවා පණිවුඩ දෙකක් නිකුත් කළහ. එකක් 1936 දෙසැම්බරයේදීය. අනික 1937 මාර්තුවේදීය. මේ පණිවුඩ මගින් නැන්කිනයේ කුඹමින්තාන ආණ්ඩුවට පක්ෂපාතිත්වය පල කරන ලදී. ජපානය, චීනය සමග සබඳකම් තහවුරු කරගන්නා බවද, චීනයේ දේශපාලන ඒකාග්‍රතාවයට සහ ආර්ථික පුනරුත්ථානයට උපකාරී වන බවද, පවසමින් ජපන් විදේශ ඇමති සාටෝ ප්‍රසිද්ධියේම චියැංකායිෂෙක් සමග මිත්‍ර වීමට තැත් කළේය. තවද, ජපන් ධන කුවේරයන් වූ කෙන්ජි නිකොස්මාගේ ප්‍රධානත්වයෙන් ඊනියා ආර්ථික අධ්‍යයන කණ්ඩායමක් චීනයට එවූ ජපානය "නවීන රාජ්‍යයක් සංවිධාන කිරීම මස්තකප්‍රාප්ත කරගනු සඳහා" චීනයට උදව්වන බවෙක් ඇඟෙව්වේය. ආක්‍රමණික උපක්‍රමයන් වූ මේ ද හඳුන්වන ලද්දේ සාටෝගේ රාජ්‍ය



තන්ත්‍රය ලෙසිනි. ජපන් අධිරාජ්‍යවාදීන්ගේ මීරිඟුවට මුලාවූවන් ලෙසින් එය ජපානයේ පසුබෑමක් ලෙසින් හඳුන්වන ලදී.

2. 1936 දී ෂැංහයිහිදී අත් අඩංගුවට ගන්නාලද "ජපානයට එරෙහිව නැගී සිටින ජාතිකාරක්ෂක ව්‍යාපාරයේ" නායකයෙක් වූ සෙන් චුන් හූ සහ තව නායකයන් සදෙනෙක් 1937 අප්‍රියෙල්හිදී සූචව්හිදී කුඹමින්තාන මහාධිකරණය හමුවට පමුණුවනු ලැබූහ. ඔවුනට විරුද්ධව තිබුණු චෝදනාව "සමූහාණ්ඩු රාජ්‍යය" අනතුරෙහි හෙළීමයි. කුවෝමින්තාන බලධරයන් සියළු දේශප්‍රේමී ව්‍යාපාර හංවඩු ගැසුවේ මේ බොරු චෝදනාවෙනි.

3. සියාන් සිද්ධියට පෙර නිරිතදිග හමුදව රඳවා තිබුණේ ශෙන්සි සහ කාන්සු ප්‍රාන්ත අතර මායිමේය. එය උතුරු ශෙන්සි පළාතේ හුන් රතු හමුදව සමග කෙළින්ම සබඳකම් පැවැත්විය. රතු හමුදවෙන් මහත්සේ ආභාසය ලැබූ එම හමුදව පසුව සියාංහිදී ආණ්ඩු විරෝධී කැරැල්ලක් ගැසුවේය. 1937 මාර්තුවේදී හෝනාන් සහ ආග්වෙි පළාත්වලට යන ලෙස නිරිත දිග හමුදවට බලකරන ලදී. කුඹමින්තාන බලධරයන් මේ පියවර ගත්තේ එම හමුදව සහ රතු හමුදව අතර තිබුණු සබඳකම් කපා දමනු සඳහාත් එම හමුදවල් තුළ මත භෙද ඇති කරනු සඳහාත්ය.

4. යැං හු චෙං සෙන්පතියා වයඹදිග චීනයෙහි හුන් යුද නායකයෙකි. ඔහු චැං හ්සුඒහ් – ලියාං සමග එක්වී සියාන් සිද්ධිය ඇති කෙළේය. ඉදින් මේ සිද්ධියේ මූලිකයන් දෙදෙන ප්‍රකට වූයේ "චැං – යැං" යනු

වෙනි. චියැංකායිෂෙක් මුදහරිනු ලැබුවාට වැං ඔහු සමග නැන්කිනයට ගිය මුත් වහාම වැං අත් අඩංගුවට ගනු ලැබීය. 1937 අප්‍රියෙල්හිදී කුඕමින්තාන ප්‍රතිගාමීන් විසින් යැංද ඔහුගේ පදවියෙන් පහකරන ලදී. ඔහු නිවාඩු පිට විදෙස් ගත විය. ප්‍රතිප්‍රහාරක යුද්ධය ඇරඹුනු පසු යැං පෙරළා චීනයට අවුත් තමන්ගේ සේවය කැප කිරීමට කැමැත්ත පළ කෙළේය. එහෙත් චියැංකායිෂෙක් විසින් ඔහු මරණය දක්වා සිර අඩස්සියේ තබන ලදී. 1949 සැප්තැම්බරයේදී මහජන විමුක්ති හමුදාව චුංකිනය ඔස්සේ ඉදිරියට යද්දී කුමින්තානය විසින් ඔහු වද කඳවුරකදී මරා දමන ලදී.

5. තුංකුවාන් වූ කලී ශෙන්සි, හෝනාන් සහ ශාන්සි ප්‍රාන්තවල මායිමෙහි පිහිටි වැදගත් කපොල්ලකි. සියාන් සිද්ධිය සමයෙහි කුවෝමින්තාන හටයන් වැඩි වශයෙන් රඳවා තිබුණේ එතැනට නැගෙනහිර දෙසිනි. චැං කුවෝ තා–ඕ වැනි පක්ෂයේ නමගිය ''වාමාංශිකයෝ'' රතු හමුදාවට කුවෝමින්තානය ඔස්සේ ඉදිරියට යා යුතු යයි කියා සිටියහ. එසේ කිරීමට නම් රතු හමුදාව කුවෝමින්තාන සේනා සමග ගැටිය යුතු විය. මේ යෝජනාව සියාන් සිද්ධිය සාමකාමීව බේරුම් කරගත යුතු බවට මධ්‍යම කාරක සභාව ගත් තීරණයට පටහැනිවිය.

6. ඔක්තෝබර් විප්ලවය කෙරී දිගු කලක් යනතුරු ප්‍රංශ අධිරාජ්‍යවාදීන් සෝවියට් දේශය සම්බන්ධයෙන් අනුගමනය කළේ සතුරු ප්‍රතිපත්තියක්. සෝවියට් දේශයට විරුද්ධව රටවල් 14 ක් විසින් කරගෙන යන ලද ආයුධ සන්නද්ධ ආක්‍රමණයට 1918–20 අතර ප්‍රංශ ආණ්ඩුවද කාර්‍යශීලීව සහභාගි විය. මේ ආක්‍රමණය පරාජය වීමෙන් පසුව පවා ප්‍රංශ ආණ්ඩුව සෝවියට් දේශය කොන් කිරීමේ ප්‍රතිගාමී පිළිවෙත අනුගමනය කළේය. සෝවියට් දේශය සාම පිළිවෙත ප්‍රංශ ජනතාව කෙරෙහි බලපෑ නිසාද ජර්මනියේ පැසිස්ට ව්‍යසනය නිසාද, 1935 මැයි මාසයේදී ප්‍රංශය විසින් සෝවියට් දේශය සමග අන්‍යෝන්‍යාධාර ගිවිසුමක් අත්සන් කරන ලදී. එහෙත් ප්‍රතිගාමී ප්‍රංශ ආණ්ඩුව මේ ගිවිසුමට අනුව ක්‍රියා කළේ නැත.

7. 1935 දෙසැම්බර් 9 වැනිද පීකිනයේදී චීන කොමියුනිස්ට් පක්ෂයේ නායකත්වයෙන් පැවැති ශිෂ්‍යයින්ගේ දේශප්‍රේමී ව්‍යාපාරය සිවිල් යුද්ධය නවතන ලෙසත් ජපානයට එරෙහිව නැගී සිටින ලෙසත් ඉල්ලා සිටි. මේ ව්‍යාපාරයට රටපුරා සහයෝගය ලැබුණි.

8. ජපන් බඩු චීනයට හොරා ගෙන ඒම.

9. චීන-ජපන් ආර්ථික සහයෝගය යනුවෙන් හඳුන්වාගත් දෙයකි.

10. කාල්මාක්ස්ගේ සහ ෆ්‍රෙඩ්රික් එංගල්ස්ගේ **Manifesto of the Communist Party** (4 වෙනි කොටස) වී. අයි. ලෙනින්ගේ **Two Tactics of Social Democracy in the Democratic Revolution** (12 වෙනි කොටස හා 13 වෙනි කොටස;) **History of the Communist Party of the Soviet Union** *(Bolsheviks)* **Short Course,** (3 වෙනි පරිච්ඡේදය, 5 වෙනි කොටස යන තැන් බලන්න.)

11. ජේ. වී. ස්ටාලින්ගේ **Foundations of Leninism** (3 වෙනි කොටස,) **The October Revolution and the Tactics of Russion Communists** ( 2 වෙනි කොටස) **Concerning Questions of Leninism** (3 වෙනි කොටස) යන නැත් බලන්න.

12. 1935 මැයි මස ජේ. වී. ස්ටාලින් ''රතු හමුදාවේ විද්‍යාල වල පුහුණුව ලැබූවන් අමතා ක්‍රෙම්ලින් මාලිගයේදී කළ කථාව'' කියවන්න. ඔහු එහිදී මෙසේද සඳහන් කර තිබේ. ''ලොවෙහි ඇති ඉතාම අගනා ධනය අතුරින් ඉතාමත්ම අගනා වස්තුව වනුයේ ඉතාම තීරණාත්මක වස්තුව වනුයේ ජනතාවය, කාඩර්වරුන්ය''. අපේ වත්මන් තත්වය යටතේ සියල්ල රඳී පවත්නේ කාඩර්වරුන් මත බව වටහා ගත යුතුය.

13. මේ වෙනස නම් පක්ෂයේ මධ්‍යම කාරක සභාවේ පිළිවෙත සහ චැං කුවෝ තාඕගේ පසුබෑගම් පිළිවෙත අතර (1935-36 කාලයේ) තිබුණු වෙනසයි. කලින් තිබුණු මතභේදය සමථයකට පත් කෙරිණ යනුවෙන් මාඕ සේ-තුං සහෝදරයා අදහස් කරන්නේ රතු හමුදාවේ සිව්වෙනි පෙරමුණු හමුදාව මධ්‍යම රතු හමුදාවට එක්වී ඇති බවයි. චැං කුවෝ තාඕ පසු කලෙක එළිපිටම පක්ෂය පාවාදීම සහ ප්‍රතිවිප්ලව - වාදියකුගේ තත්වයට පිරිහීම. තනි ද්‍රෝහියකුගේ ක්‍රියාවක් මිස පක්ෂයේ ප්‍රතිපත්ති උඩ පැවැති මතභේදයක් නොවේ.



කම්කරුවා මුද්‍රණාලය,
නො; 121,
යූනියන් පෙදෙස,
කොළඹ-2.

# LIBERATIONBASE
## ඩිජිටල් පුස්තකාලය

ඩිජිටල් පුස්තකාලය සහ ලේඛණ සංරක්ෂණ ව්‍යාපෘතිය
ආරම්භය (***NMSG Library*** ලෙස): 2010
***LIBERATIONBASE*** ලෙස නැවත නාමකරණය: 2013

සූචිකරණ දත්ත

- කෘතිය: ජපන් විරෝධී ජාතික එක්සත් පෙරමුණ සඳහා ලක්ෂ ගණනින් ජනතාව දිනා ගනිමු
- කතෘ/පරිවර්තක: මාඕ සේතුං/-
- ප්‍රකාශක: ප්‍රජා ප්‍රකාශකයෝ, කොළඹ
- පළමු ඩිජිටල් පළ කිරීම: 2019-05-31
- ඩිජිටල් සංස්කරණයන්: V1:2019-05-29
- පිටු ගණන: 21
- භාෂා මාධ්‍ය: සිංහල
- ගොනු ආකෘතිය: PDF

Web: https://liberationbase.wordpress.com
Email: slradical@ymail.com